ආග්නියා බාර්ටෝ

# සෙල්ලම් බඩු





ආග්නියා බාර්ටෝ

# සෙල්ලම් බඩු

චිත්‍ර
විතාලි ගර්යායෙව්

අනුවාදය
දයා අබේසේකර

ISBN 978-955-1979-63-8

ප්‍රකාශනය



කැනොල් පබ්ලිෂිං හවුස්

මුද්‍රණය
යස ඉසුරු ප්‍රින්ටර්ස්

ප්‍රථම මුද්‍රණය 2015



## වලස් පැටියා

වලස් පැටිය බිමට වැටිල,
අනේ අපොයි! අතක් කැඩිල.
තුවාලයට බෙහෙත් දමල,
සුදු රෙදි පටියකින් ඔතල.

# පුල්ලියා

පුල්ලි ගොනා බයෙන් බයෙන්,
ලීය දිගේ ලිස්සනවා.
පොල්කිච්චා උඩ ඉඳගෙන,
"කීච්-බීච්" ගානවා.





# අලියා

නිදන්ට දැන් වෙලාව හරි!
හඳහාමී කියනවා.
ඔලුව බිමට හරවාගෙන,
අලියා නිදි කිරනවා.
පුල්ලිය පෙට්ටිය ඇතුළේ,
ගුලි ගැහිලා නිදනවා.
වලස් පැටිය පොරවාගෙන,
මී වද ගැන සිතනවා.



## ගුවන් නැව

අපිම ගුවන් නැවක් හදල,
කැලෑ උඩින් ගෙවල් උඩින්,
කඳු හෙල් තැනිතලා උඩින්,
පියාඹලා අම්ම ළඟට ආපහු එනවා.



## පෝනියා

දිග කළු කෙස් පීරාලා,
වලිගය හැඩවැඩ දමලා,
පිට උඩ නැගලා යන්නට,
රතු සෑදලයක් බැඳලා.

# ලොරිය

ලොරියේ නැගලා යන්නට,
හැම දෙනාම පොරකනවා.

මී පැටියෙකු ඉව වැටිලා,
කිටියා කලබල වෙනවා.

ලොරියත් බිම පෙරළාගෙන,
උං පස්සෙන් දුවයනවා.





## බෝලය

බෝලය වතුරට වැටිලා,
තාන්යාට දුක හිතිලා,
ගං ඉවුරේ ඈ හිටගෙන,
කඳුළු සලනවා.
"මොකටද ඔය හැටි අඬන්නෙ?
බෝලය නැහැ නෙව ගිලෙන්නෙ!"

# හා පැටියා

මිදුලේ ලී බංකුව උඩ,
හා පැටියෙකු දමා ගිහින්,
වැස්සට හොඳටම තෙමිලා,
පොල්කිච්චට දුක හිතිලා,
උගෙ කූඩුවෙ ගිනි තපින්ට,
ගහ මුදුනට අඬගහනව.





## එළු පැටියා

එළු පැටියා පාන්දරින්,
සවාරියක් ගිහින් වගේ.
වත්ත පහළ ගස් අතරින්,
ටිං ටිං ටිං හඬ නැගේ.



# නැව

නැව් තොප්පිය හිස ලාගෙන,
ලණුව තදින් අල්ලාගෙන,
මගේ පුංචි නැව ඇදගෙන,
මම දුවයනවා.
වලස් පැටියා එහි ඉඳගෙන,
රුවල තදින් අල්ලාගෙන,
ගෙඹි පැටවුන් දෙස බලමින්,
විහිළු කරනවා.

